# වලෙන්තීන් කතායෙව්

# සත්පෙති මල

චිත්‍ර: වි. ලෝසින්




**සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස**

91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08


තොප්පි
කැප් තොප්පි





ංචි ගැනු ළමයෙක් හිටියා. එයාගෙ නම ශේන්යා. දවසක් අම්මා ඇය පාන් වළලු ගෙන්න කඩේට යැව්වා. ශේන්යා ගත්තා පාන් වළලු හතක්ඃ සුවඳ පාන් වළලු දෙකක් තාත්තාට, පොපි ඇට දාපු දෙකක් අම්මාට, සීනි දාපු දෙකක් තමාට, රෝස පාට පුංචි එකක් පාව්ලික් මල්ලිට. ඉතින් ශේන්යා පාන් වළලු එල්ලාගෙන ගෙදර යනවා. ඈ යන්නෙ වට පිට බලමින් පාර දෙපැත්තෙ තිබෙන දැන්වීම් කියවමින්. මේ අතරතුරේ එක් නාඳුනන බල්ලෙක් ඈ පස්සෙන් එන්න පටන් ගත්තා. ඌ ඔක්කොම පාන් වළලු එකින් එක කෑවා. ඉස්සර වෙලා තාත්තගෙ ඒවා, පස්සෙ අම්මගෙ ඒවා, ඊට පස්සෙ සීනි දමාපු ශේන්යාගෙ ඒවා. ශේන්යාගේ අතට හැල්ලුවක් දැනුණා. ආපහු හැරිල

බැලින්නම් පමා වෙලා වැඩියි. බල්ලා අන්තිම රෝස පාට පාන් වළල්ලත් අරගෙන කනවා.

"අයියෝ, මෙහෙම නපුරු බල්ලෙක්!" ශේන්යා කෑගහල ඌව අල්ලන්න දිව්වා.



ඈ දිව්වා, දිව්වා. බල්ලා අල්ලා ගන්න බැරි වුණා. ඈ අතරමං වුණා. ඈ ඉන්නෙ කොහොමවත් නුපුරුදු තැනක. ලොකු ගෙවල් නෑ. පුංචි ගෙවල් තියෙන්නෙ. ශේන්යා බය වෙලා අඬන්න ලෑස්ති වුණා. එකපාරටම කොහෙන්දෝ ආච්චි කෙනෙක් ආවා.

"ළමයො, ළමයො, මොකොද උඹ අඬන්නෙ?"

ශේන්යා ආච්චිට ඔක්කොම කීවා. ආච්චිට ශේන්යා ගැන දුක හිතුණා. ආච්චි ශේන්යා තමන්ගෙ මල්වත්තට එක්කරගෙන ගිහිල්ලා මෙහෙම කියනවා.

"කමක් නෑ, අඬන්න එපා. මම උඹට පිහිට වෙන්නං. ඇත්ත, මා ළඟ පාන් වළලු, සල්ලි හෙම නෑ. මගේ මල් වත්තෙ මලක් පිපිල තියෙනවා. ඒ මලට කියන්නෙ 'හත්පෙති මල' කියලා. ඒ මලට ඔක්කොම කරන්න පුළුවන්. උඹ පාරේ යනකොට වටපිට බැලුව වුණත් හොඳ ළමයෙක් බව මම දන්නවා. මම උඹට ඒ හත්පෙති මල තෑගි කරන්නම්. ඒක ඔක්කොම කර දෙනවා."

ඉතින් මෙහෙම කියල ආච්චි මල් පාත්තියකින් ඩේසි මලක් වගේ ලස්සන මලක් කඩල ශේන්යාට දුන්නා. ඒ මලේ කහ, රතු, තදනිල්, කොළ, තැඹිලි පාට, දම්, ලා නිල් ඔය වගේ පෙති හතක් තිබුණා.

"මේ මල සාමාන්‍ය එකක් නොවෙයි" ආච්චි කීවා.

" උඹට ඕනෑ දෙයක් මේ මල කර දෙනවා. එක මල් පෙත්තක් කඩල වීසි කරල මෙහෙම කියන එක විතරයි"



"මල් පෙත්තේ, මල් පෙත්තේ
උතුරු දෙසට - දකුණු දෙසට
බටහිරටත් නැගෙනහිරට
ඉගිල ඉගිල මෙහැම දෙසට
කැරකීලා ඇවිත් බිමට
ම කියන දෙය කර දෙන් මට

ඉතින් මෙහෙම කියල මේ මේ දේ මට කරදෙන්න කියන්න. එතකොට හරියටම කර දෙනවා"

ශේන්යා බොහොම විනීත විදියට ස්තුති කරල ගේට්ටුවෙන් එළියට ගියාට පස්සෙයි, මතක් වුණේ ගෙදරට යන පාර දන්නෙ නැති බව. ඈ කල්පනා කළා ආපහු මල්වත්තට ගිහිල්ලා ආච්චිට කියන්න ළඟම ඉන්න පොලිස් භටයා ළඟට ඇරලවන්න කියා. නමුත්

මල් වත්තත්, ආච්චිවත් පේන්න නෑ. මොනව කරන්න ද? ශේන්යා පුරුදු විදියට අඬන්න පටන් ගත්තා. නහයත් රැළි වැටුණා, හරියට පරඬලක් වගේ. එකපාරට ම මතක් වුණා තමා ළඟ තිබෙන හත් පෙති මල.

"හොඳයි, බලමු මොකක් ද කියල මේ හත් පෙති මල!"

ශේන්යා හතික මලේ කහපාට පෙත්ත කඩල එය වීසි කරලා මෙහෙම කියන්න පටන් ගත්තාඃ

"මල් පෙත්තේ, මල් පෙත්තේ
උතුරු දෙසට - දකුණු දෙසට
බටහිරටත් නැගෙනහිරට
ඉගිල ඉගිල මෙ හැම දෙසට
කැරකීලා ඇවිත් බිමට
ම කියන දෙය කර දෙන් මට

පාන් වළලුත් එක්ක මා ගෙදර ඉන්න ඕන!"

ඇයට මෙය කියල ඉවර කරන්න ලැබුණේ නෑ. ඒ මොහොතේ ම පාන් වළලු මුලත් එක්ක ඈ ගෙදර!



ශේන්යා පාන් වළලු අම්මාට දීලා මෙහෙම හිතනවා. "ඇත්ත තමයි, මේක හරි පුදුම මලක්. හොඳ ම ලස්සන මල් පෝච්චියේ මේ මල තියන්න ඕන!"

ශේන්යා ලොකු ගෑනු ළමයෙක් නෙවෙයි. ඒ හින්දා රාක්කයේ උඩම තට්ටුවේ තිබෙන අම්මගෙ හොඳම මල් පෝච්චිය ගන්න ඈ පුටුවක් තියල පුටුවට නැගුණා. එතකොට ම කරුමෙට වගේ ජනේලය ළඟින් කාක්කො රංචුවක් ඉගිල්ලිලා යනවා. කාක්කො අට දෙනෙක් ද, නැත් නම් හත් දෙනෙක් ද කියා හරියට ම දැන ගන්න ශේන්යාට ඕන කළා. ඈ කට ඇරගෙන, ඇඟිල්ල දික් කරල ගණින්න පටන් ගත්තා. 'දඩාස්' මල් පෝච්චිය බිමට වැටුණා. පුංචි කෑලි හැම අතක ම විසිරුණා.

"උඹ ආයෙමත් මොකක් ද බින්ද නේ ද? මෝඩ ළමයා!" අම්මා කුස්සියේ ඉඳල කෑ ගැහුවා.

"මගේ හොඳම මල් පෝච්චිය නේ ද?"

"නෑ, නෑ, අම්මා, මම මොකුත් බින්දෙ නෑ." ශේන්යා කෑගැහුවා. පස්සෙ හතික රතු මල් පෙත්ත කඩල වීසි කරල හෙමින් මෙහෙම කීවා.



"මල් පෙත්තේ, මල් පෙත්තේ
උතුරු දෙසට - දකුණු දෙසට
බටහිරටත් නැගෙනහිරට
ඉගිල ඉගිල මෙ හැම දෙසට
කැරකීලා ඇවිත් බිමට
ම කියන දෙය කර දෙන් මට

අම්මාගෙ මල් පෝච්චිය
තිබුණු විදියට ම හැදෙන්න ඕන!"

ඇයට ඒක කියලා ඉවර කරන්න ලැබුණේ නෑ. කැඩුණු බිඳුණු කෑලි ඔක්කොම එකට එකතු වෙලා මල් පෝච්චිය තිබුණු විදියට ම හැදුණා.

අම්මා කුස්සියේ ඉඳල දුවගෙන ආවා. ඇවිත්  බැලින්නම් මල් පෝච්චිය ඒ තිබුණු තැන එහෙමම තියෙනවා. ඒ කොහොම වුණත් අම්මා ඇඟිල්ල උරුක් කරල, ශේන්යාට තරවටු කරල සෙල්ලම් කරන්න මිදුලට යැව්වා.



ඉතින් ශේන්යා මිදුලට ආවා. මිදුලෙ පිරිමි ළමයි කට්ටියක් පරණ ලෑලි උඩ ඉඳගෙන, වැල්ලෙ කෝටු ගහලා සෙල්ලම් කරනවා.

"අනේ, මාවත් ගන්න ඔය ගොල්ලන්ගෙ සෙල්ලමට!"

"මොකුත් ඕන වෙලා ද! පේන්නෙ නැද්ද අපි මේ උතුරු කෙළවරේ සෙල්ලම කරනවා? අපි ඒ සෙල්ලමට ගෑනු ළමයි ගන්නෙ නෑ."

"මොකක්ද මේක උතුරු කෙළවරක්යැ, නිකං ලෑලි කෑලි මිසක්?"



"ලෑලි නොවෙයි, අයිස්. යන්න මෙතනින් කරදර නොකර. දන් ඔන්න අයිස් පරුවත එහාට මෙහාට පෙරලෙනවා."

"එහෙනම් මාව ගන්නෙ නෑ?"

"ගන්නෙ නෑ, යන්න මෙතනින්!"

"මට ඕන නෑ. ඔය ගොල්ල නැතුව මම යනවා උතුරු කෙළවරට, ඔය ගොල්ලන්ගෙ වගේ නෙවි. ඇත්තම උතුරු කෙළවරට"

ශේන්යා ගේට්ටුවට මුවා වෙලා හත්පෙති මල අරගෙන තද නිල්පාට පෙත්ත කඩල විසි කරල මෙහෙම කීවා.




## දැන් මා උතුරු කෙළවරට ගෙනියන්න ඕන!”

ඇයට කියල ඉවර කරන්න ලැබුණෙ නෑ. එකපාරට ම හුළඟ හැමුවා, ඉර නොපෙනී ගියා, භයානක විදියට අඳුරු වුණා. පොළොව ඇගේ පා යට බඹරයක් වගේ කරකැවුණා.

ශේන්යා හිටියේ ගිම්හාන කාලෙට අඳින ගවුමකුත් සපත්තුත් ඇඳගෙන. උතුරු කෙළවරේ ඇයට ලොකු තනිකමක් දැනුණා. හරියට සීතලයි.



"අයියෝ,
ශේන්යා කෑ
පටන් ගත්තා.
නහයෙන් එල්ලුණා,
වගේ. මේ අතරතුරේ දී
හත් දෙනෙක් ශේන්යා
දෙවෙනි නෑ. ඔක්කොම එක
කලබලකාරීයි, දෙවැන්නා නපුරුයි.
හතර වැන්නගෙ දිග ලොම්,
හයවැන්නගෙ මුහුණෙ



, අම්මා, හීතලයි."
ගහන්නයි, අඬන්නයි
ඳුළු මිදිලා අයිස් වෙලා
, හරියට වතුර පයිප්පයකින්
දී අයිස් කඳුවලින් සුදු වලස්සු
ළඟට එනවා එකෙකුට එකෙක්
ක විගේ භයානකයි. පළමුවැන්නා
ැයි, තුන්වැන්නා තොප්පියක් දමාගෙන,
පස්වැන්නගෙ බොකුටු ගැහුණු ලොම්,
ිබිලි දාල, හත්වැන්නා මහ විශාලයි.

ශේන්යා හොඳටම බයවෙලා, හත්පෙති මලේ කොළ පාට පෙත්ත කඩල වීසි කරල පුළුවන් තරම් හයියෙන් කෑ ගැහුවා.

මල් පෙත්තේ, මල් පෙත්තේ
උතුරු දෙසට - දකුණු දෙසට
බටහිරටත් නැගෙනහිරට
ඉගිල ඉගිල මෙ හැම දෙසට
කැරකීලා ඇවිත් බිමට
ම කියන දෙය කර දෙන් මට



ආයෙමත් මා අපේ මිදුලට ගෙනියන්න ඕන!"



ඒ මොහොතෙ ම ශේන්යා ආයෙමත් මිදුලෙ! පිරිමි ළමයි ඇය දිහා බලලා හිනා වෙනවා.

"හොඳේ, ඔයා ගියා ද ඉතින් උතුරු කෙළවරට?"

"මම එහෙ ගියා"

"අපි දැක්කෙ නෑ, ඔප්පු කරන්න!"

"මේ බලන්නකො, තවම අයිස්."

"ඒ අයිස් නෙවෙයි. අපිව රවටන්න බෑ!"

ශේන්යාට තරහ ආවා. ඈ පිරිමි ළමයි එක්ක සෙල්ලම් නොකරන්ට තීරණය කරල වෙන මිදුලකට ගියා ගෑනු ළමයි එක්ක සෙල්ලම් කරන්න.



ගිහින් බැලින්නම් ගෑනු ළමයි ළඟ තියෙනවා නොයෙක් ජාති සෙල්ලම් බඩු. එක්කෙනෙක් ළඟ පුංචි කරත්තයක්, එක්කෙනෙක් ළඟ බෝලයක්, එක්කෙනෙක් ළඟ ස්කිප් ලනුවක්, තව කෙනෙක් ළඟ රෝද තුනේ බයිසිකලයක්. තවත් කෙනෙක් ළඟ තොප්පියකුයි, සපත්තුයි අන්දපු කතා කරන බෝනික්කෙක්. ශේන්යාට කණගාටු හිතුණා. ඇගේ ඇස් ඉරිසියාවෙන් කොළපාට වුණා, හරියට එළුවකුගෙ ඇස් වගේ.

"හොඳයි" ශේන්යා හිතුවා. "ඔයාගොල්ලන්ට මං පෙන්වන්නම් කාටද සෙල්ලම් බඩු තියෙන්නෙ කියල."

හත්පෙති මලේ තැඹිලි පාට පෙත්ත කඩල විසි කරලා ඈ මෙහෙම කීවාඃ

"මල් පෙත්තේ, මල් පෙත්තේ

උතුරු දෙසට - දකුණු දෙසට

බටහිරටත් නැගෙනහිරට

ඉගිල ඉගිල මෙ හැම දෙසට

කැරකීලා ඇවිත් බිමට

ම කියන දෙය කර දෙන් මට

**මේ ලෝකයේ තිබෙන ඔක්කොම සෙල්ලම් බඩු මට ලැබෙන්න ඕන!"**

ඒ මොහොතෙම කොහෙන්දෝ දන්නෙ නෑ, හැම පැත්තෙන් ම ශේන්යා ළඟට සෙල්ලම් බඩු ගලාගෙන එන්න පටන් ගත්තා.



මුලින් බෝනික්කෝ ඇසිපිය ගහමින්, "අම්මා, තාත්තා" කියමින් දුව ගෙන එන්න පටන් ගත්තා. ශේන්යා මුලින් හරි සන්තෝෂ වුණා. බෝනික්කෝ කොච්චර ද



කීවොත්, මිදුලත්, හරස්පාරත් වීදි දෙකකුත්, චතුරශ්‍රයෙන් බාගයකුත් බෝනික්කන්ගෙන් පිරුණා. බෝනික්කෝ හින්දා අඩියක් තියන්න බෑ. බෝනික්කන්ගෙ කෑගැහිල්ල ඇර වෙන මොකුත් ඇහෙන්නෙ නෑ.



කෝටි පහක් විතර බෝනික්කො එකපාර කතා කරන කොට කොහොම සද්දයක් ද කියල ඔබට හිතන්න පුළුවන්ද? බෝනික්කො හිටියෙ ඊට අඩුවෙන් නම් නොවෙයි.



නමුත් මේ මොස්කව් නුවර බෝනික්කො විතරයි. ලෙනින්ග්‍රාද්, හාර්කොව්, කීයෙව් යන නගරවල බෝනික්කො තව ආවෙ නෑ.



හරියට ගිරව් වගේ කෑ ගහමින් රුසියාවෙ හැම පාරකින් ම බෝනික්කො එන්න පටන් ගත්තා. ශේන්යා ටිකක් බය වුණා. නමුත් තවම පටන් ගත්තා විතරයි. බෝනික්කන්ගෙන් පස්සෙ බෝල, පුංචි බෝල, බයිසිකල්, රෝද තුනේ බයිසිකල්, සෙල්ලම් කාර්, ට්‍රැක්ටර් පෙරළීගෙන, පෙරළීගෙන එනවා. ස්කිප් ලනු නයි වගේ බඩ ගානවා. බෝනික්කො කලබල වෙලා තවත් හයියෙන් කෑගහනවා. සෙල්ලම් අහස් යානා, බැලුන් කෝටි ගණන් අහසේ පියාඹනවා. හරියට ම මල් වගේ පැරෂුට්වලින් බෝනික්කෝ බහිනවා. පාරේ ගමනාගමනය ඇන හිටියා. පොලිස් භටයෝ මොනව කරන්න ද කියල දන්නෙ නැතුව පහන් කණුවලට නැග්ගා.



"ඇති, ඇති!". හිස බදාගෙන ශේන්යා බයෙන් කෑ ගැහුවා. "මේ මොකද, මේ මොකද, මට මොකද! මට මෙච්චර සෙල්ලම් බඩු කොහොමවත් ඕන නෑ, මම විහිළු කළා. මම බයයි...." නමුත් කිසි පිහිටක් නෑ. සෙල්ලම් බඩු එනවා, එනවා. සෝවියට් සෙල්ලම් බඩුවලින් පස්සෙ ඇමෙරිකන් සෙල්ලම් බඩු එන්න පටන් ගත්තා. දැන් මුළු නගරය ම සෙල්ලම් බඩුවලින් පිරිලා. ශේන්යා පඩි පෙළේ - සෙල්ලම් බඩු ඈ පස්සෙන්. ශේන්යා සඳලු තලයේ - සෙල්ලම් බඩු ඈ පස්සෙන්. ශේන්යා සොල්දරයේ - සෙල්ලම් බඩු ඈ පස්සෙන්. බැරිම තැන ඈ වහලයට නැගලා හනික දම්පාට පෙත්ත කඩල විසි කරලා මෙහෙම කීවා.



"මල් පෙත්තේ, මල් පෙත්තේ

උතුරු දෙසට - දකුණු දෙසට

බටහිරටත් නැගෙනහිරට

ඉගිල ඉගිල මෙ හැම දෙසට

කැරකීලා ඇවිත් බිමට

ම කියන දෙය කර දෙන් මට

**සෙල්ලම් බඩු හනික ආපහු සාප්පුවලට යන්න ඕන!"**

එතකොට ම සෙල්ලම් බඩු ඔක්කොම අතුරුදහන් වුණා.

ශේන්යා හත්පෙති මල බැලුවාම තව තියෙන්නේ එකම එක මල් පෙත්තයි.

"වෙච්ච දේ! පෙති හයක් ම නාස්ති වුණා. කිසිම පලක් නැතිව. කමක් නෑ ඉස්සරහට කල්පනා කාරී වෙනවා."

ඉතින් ශේන්යා වීදියට බැහැල කල්පනා කර කර යනවා.



"මම මොනවද ආයෙමත් ඉල්ලන්න ඕන? මම ඉල්ලනවා සීනි බෝල රාත්තල් දෙකක්. නෑ, වඩා හොඳයි, විස්කෝතු රාත්තල් දෙකක්. එහෙම නැත්නම් මම මෙහෙම කරනවා. සීනි බෝල රාත්තල් බාගයකුයි, විස්කෝතු රාත්තල් බාගයකුයි, සීනි කෑමයි, කජු මදයි.

තව මොනවද, පාව්ලික් මල්ලිට රෝස පාට පාන් වළල්ලක්. නමුත් මොකද්ද ඇති වැඩේ? හිතමු, ඒ ඔක්කොම අරගෙන කනවා. මොකුත් ඉතුරු වෙන්නෙ නෑ. නෑ, රෝද තුනේ බයිසිකලය ඉල්ලනවා. හොඳයි, ඒත් මොකට ද? බයිසිකලය පදින්න පුළුවනි. ඉතින් පස්සෙ? පිරිමි ළමයි ඒක උදුරා ගනීවි. බාගදා සණ්ඩු කරාවි. නෑ, සර්කස් එකකට නැත්නම් චිත්‍රපටියකට ටිකට් එකක් ගන්නවා. එයින් විනෝද වෙන්න පුළුවන්. බාගවෙලාවට අලුත් සපත්තුවක් ඉල්ලන එක හොඳයි. ඒකත් සර්කස් එකට වැඩිය නරක නැහැ. නමුත් ඒකෙන් ඇති වැඩේ මොකක්ද? තව හුඟාක් හොඳ දෙයක් ඉල්ලන්න ඕන. වැදගත් ම දේ කලබල වෙන්න හොඳ නෑ."

ඉතින් ශේන්යා මෙහෙම හිත හිතා යන කොට දැක්කා ගේට්ටුව ළඟ බංකුවක හොඳ ලස්සන පිරිමි ළමයෙක් වාඩි වෙලා ඉන්නවා. ඔහුට තිබුණා නිල් පාට, ප්‍රීතිමත්, සාන්ත, විශාල ඇස්.

පිරිමි ළමයා බොහොම ලස්සනයි. ඇට්ටර ගතියක් නම් පේන්නෙ නෑ. ශේන්යාට හිතුණා ඔහු දැන හඳුනා ගන්න. ශේන්යා කිසිම බයක් නැතිව ඔහු ළඟටම ගියා. එතකොට ඈ දැක්කා ඔහුගෙ කළු ඉංගිරියා දෙකේ පෙනෙනවා තම කොණ්ඩ කරල් දෙක, දෙවුර හා මුහුණ.

"ළමයො, ළමයො ඔයාගෙ නම මොකක් ද?"

"වීත්යා, ඔයාගෙ නම?"

"ශේන්යා, එනවද සෙල්ලම් කරන්න?"

"මට බෑ. මම කොර වෙලා."

ශේන්යා දැක්කා ඔහුගේ පයේ දා තිබෙන ලොකු සපත්තුව.

"හරි දුකයි!" ශේන්යා කීවා. "මම ඔයාට හරි කැමතියි. මට ඔයා එක්ක බොහොම කැමැත්තෙන් තිබුණ නේ සෙල්ලම් කරන්න"

"මමත් ඔයාට හුඟාක් කැමතියි. මටත් ඔයා එක්ක බොහොම කැමැත්තෙන් සෙල්ලම් කරන්න තිබුණා. නමුත් කණගාටුයි. ඒක කරන්න බෑ. කරන්න කිසිම දෙයක් නෑ. මුළු ජීවිතේම මෙහෙමයි"

"හානේ! ළමයො, ඔයා මොනව ද මේ කියන්නේ?" ශේන්යා තම සාක්කුවෙන් පුදුම හත්පෙති මල අර ගත්තා. "මේ බලන්න."

මෙහෙම කියලා ශේන්යා බොහොම පරිස්සමින් මලේ අවසාන ළා නිල් පාට පෙත්ත කඩල, මල් පෙත්ත තමාගේ ඇස් ඉදිරියෙන් තියල, ඇඟිලිවලින් වීසි කරල, හීන් හඬින්, ප්‍රීතියෙන් මෙහෙම ගයන්න පටන් ගත්තා.

"මල් පෙත්තේ, මල් පෙත්තේ
උතුරු දෙසට - දකුණු දෙසට
බටහිරටත් නැගෙනහිරට
ඉගිල ඉගිල මෙ හැම දෙසට
කැරකීලා ඇවිත් බිමට
ම කියන දෙය කර දෙන් මට

## වීත්යා සනීප කරන්න ඕන!"

එතකොට ම වීත්යා බංකුවෙන් නැගිටලා ශේන්යාත් එක්ක සෙල්ලම් කරන්න පටන් ගත්තා. ඔහු කොච්චර හොඳට දිව්ව ද කීවොත් ශේන්යාට ඔහු අල්ලාගන්නත් බැරුව ගියා.



## හත්පෙති මල

1952 පෙබරවාරි මස 29 වන දින නිකුත් කරන ලද ආණ්ඩුවේ ගැසට් පත්‍රයෙහි පළ වූ උපකෘත, ස්වභාෂා, ද්විභාෂා, හා ඉංග්‍රීසි පාඨශාලාවන් පිළිබඳ ව්‍යවස්ථා සංග්‍රහයේ 19 A ඡේදය යටතේ අධ්‍යාපන අධ්‍යක්ෂ ජනරාල් තුමන් විසින් පාසල් පුස්තකාල පොතක් වශයෙන් අනුමත කරන ලදි.





සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස
91. ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

ISBN 978-955-1319-23-6



Rs. 200/-

9 789551 319236

Kanol PRINT